# බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2013 (2014)

## (01) ථෙරවාදී බුද්ධ ධර්මයේ මූලික ඉගැන්වීම්

කාලය පැ. 3 යි.

( I කොටසේ ප්‍රශ්න සියල්ලටම පිළිතුරු සපයන්න.

I කොටස

01. i. දෙයාකාර නිර්වාණ ධාතු නම් කරන්න.

අ). ..............................

ආ). ..............................

ii. පෙණ පිඩුවකට හා මිරිඟුවකට උපමා කර ඇති "ස්කන්ධ" දෙක නම් කරන්න.

අ). ..............................

ආ). ..............................

iii. කර්මය ප්‍රතික්ෂේප කළ බුද්ධ කාලීන ශාස්තෘවරුන් දෙදෙනෙකු නම් කරන්න.

අ). ..............................

ආ). ..............................

iv. පහත දැක්වෙන පද දෙක හා බැඳෙන විරුද්ධාර්ථ පද දෙක දක්වන්න.

අ). ධම්මචරියා ..............................

ආ). සමචරියා ..............................

v. බුදුරජාණන් වහන්සේ පටිච්ච සමුප්පාදය අනුලෝම පටිලෝම වශයෙන් මෙනෙහි කළ සතිය හා ස්ථානය දක්වන්න

අ). ..............................

ආ). ..............................

vi. වේදනානුපස්සනාවට අරමුණු වන නව වැදෑරුම් වේදනාවන්ගෙන් තුනක් නම් කරන්න.

අ). ..............................

ආ). ..............................

ඉ). ..............................

vii. " දස කසිණවලින්" තුනක් නම් කරන්න.

අ). ..............................

ආ). ..............................

ඉ). ..............................

viii. " පංච බල ධර්මයන්ගෙන් හතරක් නම් කරන්න.

අ). ..............................................................................................

ආ). ..............................................................................................

ඉ). ..............................................................................................

ඊ). ..............................................................................................

ix. "පවත්ති", "පවත්තක", " නිවත්ති", "නිවත්තක" අංග හතරට ආර්ය සත්‍යය ඇතුළත් කරන්න.

අ). ..............................................................................................

ආ). ..............................................................................................

ඉ). ..............................................................................................

ඊ). ..............................................................................................

x පහත සඳහන් ගාථාව සම්පූර්ණ කරන්න.

" තං ච කම්මං කතං සාධු"

..............................................................................................

..............................................................................................

..............................................................................................

..............................................................................................

එම ගාථාවේ තේරුම ලියන්න.

..............................................................................................

..............................................................................................

..............................................................................................

..............................................................................................

* * *

# 2558 - බෞද්ධ ධර්මාචාර්ය විභාගය - 2013 (2014)

## (01) ථෙරවාදී බුද්ධ ධර්මයේ මූලික ඉගැන්වීම්

**S 1**

(ප්‍රශ්න හතරකට පමණක් පිළිතුරු සපයන්න.)

### II කොටස

**2.** (i) "අනුස්සති" යන්නෙන් ප්‍රකාශිත ධර්මාර්ථය දක්වා අනුස්සති සංඛ්‍යාව දක්වන්න. (ලකුණු 04 යි)

(ii) එම අනුස්සතිවලින් තුනක් නම් කර, ඒවා සැකෙවින් හඳුන්වන්න. (ලකුණු 06 යි)

(iii) භාවනා අරමුණු වශයෙන් දක්වා ඇති මෙම අනුස්සති ධර්මයන් මගින්, මිනිස් මනස ප්‍රායෝගික වශයෙන් ආධ්‍යාත්මික සංවර්ධනය සඳහා ප්‍රවේශ කර ගත හැකි අයුරු පහදන්න. (ලකුණු 08 යි)

**3.** (i) සතර සම්‍යක් ප්‍රධාන ධර්ම නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) "මානසික ක්‍රියා දූෂණය වීමට ඉඩ නොදී යහපත් කරවීම සම්මා ව්‍යායාමයයි." පහදන්න. (ලකුණු 06 යි)

(iii) නිර්වාණාවබෝධය සඳහා අනුගමනය කළ යුතු ආර්ය මාර්ගය හඳුන්වා දෙන්න. (ලකුණු 08 යි)

**4.** (i) ඇත්ත ඇති සැටියෙන් දැකීම (යථාභූත ඤාණ දස්සනං) සඳහා පාදක වන සිද්ධාන්තයේ නම හා ඊට අයත් ප්‍රභේද නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) 'ලෝකය' යන පදය බුදුදහමෙහි විග්‍රහ කර ඇත්තේ කවරාකාරයෙන් දැයි පහදා දෙන්න. (ලකුණු 06 යි)

(iii) 'සංස්කාරවල ස්වභාවය වෙනස්වීමයි.' කෙටි ධර්ම විවරණයක් මගින් එම ස්වභාවය හඳුන්වා දෙන්න. (ලකුණු 08 යි)

**5.** (i) "බුදුසමය දෘෂ්ටි කෝණ තුනකින් සත්ත්වයා පිළිබඳ ව යථාර්ථය ඉදිරිපත් කරයි." එම දෘෂ්ටි කෝණ නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) එම දෘෂ්ටි කෝණ කෙටියෙන් හඳුන්වන්න. (ලකුණු 06 යි)

(iii) 'භාරතීය වෙනත් ආගම් මගින් සත්ත්වයා පිළිබඳ ව ඉදිරිපත් කළ ආත්ම දෘෂ්ටිය බුදුසමය බැහැර කරයි.' පහදන්න. (ලකුණු 08 යි)

**6.** (i) සංයුත්ත නිකායේ නිදාන සංයුත්තයේදී හේතුඵලවාදී ඉගැන්වීම් මූලික වශයෙන් හතරකට බෙදා දක්වා ඇත. ඒ හතර නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) හේතුව එකකි. ඵලය අනිකකි. නැතහොත් හේතුව හා ඵලය අතර සම්බන්ධයක් නැතැයි ඉගැන්වෙන වාදයේ නම ලියා, ඊට අයත් පස්වැදෑරුම් වාදයන් දක්වන්න. (ලකුණු 06 යි)

(iii) පටිච්ච සමුප්පාද ධර්මය දේශනා කිරීමේ මූලික අරමුණු දෙක දක්වා, මෙම ධර්මය බෞද්ධ සාපේක්ෂතා වාදය වශයෙන් හැඳින්වීමේ වැදගත්කම අවධාරණය කරන්න. (ලකුණු 08 යි)

**7.** (i) කුසලාකුසල විනිශ්චය කිරීමේ නිර්ණායක තුනක් අම්බලට්ඨික රාහුලෝවාද සූත්‍රයේ දක්වා ඇත. ඒ තුන නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) එම නිර්ණායකයන්ට අනුව ප්‍රත්‍යවේක්ෂණ ක්‍රියාවලිය තුන් දොරටුවට සම්බන්ධ කර ගන්නේ කෙසේ දැයි පෙන්වා දෙන්න. (ලකුණු 06 යි)

(iii) අකුසලය (නරක හැසිරීම) බැහැර කොට, කුසලය (හොඳ හැසිරීම) සංවර්ධනය කිරීමෙන් පුද්ගල හා සමාජ යහපත සලසා ගත හැකි බව පහදා දෙන්න. (ලකුණු 08 යි)

**8.** (i) බෝධි අංග හතරක් නම් කරන්න. (ලකුණු 04 යි)

(ii) එම ධර්මවලට බෝධි අංග යැයි කීමේ අදහස පැහැදිලි කරන්න. (ලකුණු 06 යි)

(iii) නම් කළ එක් එක් බෝධි අංගය පිළිබඳ ව කෙටි විවරණයක් කරන්න. (ලකුණු 08 යි)

***